# වාස්තු විද්‍යාවේ මූලික අංග



**ප්‍රථම මුද්‍රණය** 2019 දෙසැම්බර්

**ISBN No** 978 - 955 - 38808 - 2 - 6

**කවර නිර්මාණය හා පිටු සැකසීම** ආශා සුභාෂිණී

**මුද්‍රණය** අනුර ප්‍රින්ටර්ස් පුද්ගලික සමාගම
නො. 246,
නුවර පාර,
කුරුණෑගල.
ටෙලි: 037 - 2211198

# තුති පිදුම

මට වාස්තු විද්‍යාව පිළිබඳ දැනුම ලබාදුන් අලව්ව මහරච්චිමුල්ල, දිවුල් ගහකොටුවේ ව.මු. සුනිල් වර්ණසූරිය මහතාටත්. පියසේන රණවීර මහතාටත්, සෝදුපත් බැලීමෙන් මට සහයෝගය ලබාදුන් රම්‍යා සෝමරත්න මහත්මියටත් මාගේ හදපිරි ආදර ගෞරව ස්තූතිය පිරිනමමි.

කෘතිය අලංකාර ලෙස මුද්‍රණය කරදුන් අනුර ප්‍රින්ටර්ස් පුද්ගලික සමාගමටත් ස්තූතිවන්ත වෙමි.

මෙහි නම් සඳහන් නොවුනත් මට නොයෙක් අයුරින් උදව් උපකාර කළ, මා ධෛර්යවත් කළ සියලු දෙනාටත් මාගේ ස්තූතිය පිරිනමමි.

2019.12. 15 දින දී

**තාරක ශ්‍රී කාන්ත**
අංක 196 / 5,
කෑගල්ල පාර,
පොල්ගහවෙල.
071 6489525

## කර්තෘගේ වෙනත් කෘති

- **ගුප්ත කරුණු සහ ග්‍රහ, රාශි, භාව විස්තර**
  වාසනා පොත් ප්‍රකාශනයකි

- **සඳැස් නිසඳැස්**
  කර්තෘ ප්‍රකාශනයකි

- **සතුට සොයා**
  කර්තෘ ප්‍රකාශනයකි

මෙම කෘතිය සකසා ඇත්තේ වාස්තු විද්‍යාව පිළිබඳ මූලික දැනුමක් නොමැති කෙනෙකුට වුවද තේරුම් ගැනීමට හැකිවන පරිදිය. එබැවින් මෙම කෘතිය කියවන කවුරුන් වුවද වාස්තු දෝෂ තිබේ නම් ඒවා දුරු කර සහනදායි ජීවිතයකට මඟපාදවා ගැනීම, අපගේ පැතුමයි.

අද බොහෝ දෙනෙකු වාස්තු විද්‍යාව කෙරෙහි වැඩි අවධානයක් යොමුකරන්නේ නිවසක් සාදා ගැටළු පැනගනින විටය. ඒ වන විට බොහෝ කාරනා සිදුවී තිබීමටද පුළුවන. ඒ වගේම එම අවස්ථාවේ දී ගැටළු නිරාකරණය කර ගැනීමට යන වියදම ද මහන්සිය ද වැඩිවිය හැකිය. එබැවින් කළ යුත්තේ නිවස සෑදීමට පෙර සිටම වාස්තු විද්‍යාව කෙරෙහි අවධානය යොමු කිරීමයි.

නිවසක් සෑදීමට බලාපොරොත්තු වන ඔබ මුලින්ම කළ යුත්තේ ඔබගේ ආදායමේ හැටියට ඔබ සෑදීමට බලාපොරොත්තු වන නිවසේ සම්පූර්ණ කටු සහනක් සකසා ජ්‍යොතිෂ වාස්තු විද්‍යාව දන්නා කෙනෙකු නිවස සාදන භූමියට කැඳවා ඔහුට සැලසුම පෙන්වා එහි දෝෂ තිබේනම් ඒවා නිරාකරණය කර ගැනීමයි. ඉන්පසුව නිවාස සැලසුම් අඳින ශිල්පියෙකු ලවා සැලසුම හොඳින් අන්දවා ගන්න.

නිවස සෑදීමට පෙර අදාල භූමිය මනාව සකස් කොට හොදින් ශුද්ධ පවිත්‍රකර ඉන්පසුව ශුභ නැකැත් බලා නිවස සෑදීම අරඹන්න. නිවස සැදීමට පෙර නිවස සාදන දින පාන්දර ඉඩමේ සිව් කොණට ආරක්‍ෂාවක් යෙදිය හැකි නම් වඩා හොඳය. මුල් ගලද පිරිත් කර තැබිය හැකි නම් තවත් හොඳය.

මෙය කෙටි ග්‍රන්ථයක් වුවත් මීට අමතරව වාස්තු විද්‍යාවේ

තවත් බොහෝ අංග ඇති බව පාඨක ඔබට සිහිපත් කරමි. මෙහි සඳහන් කර ඇත්තේ වඩා වැදගත් මූලික කරුණුය.

1. උළුවහු ගණන ඔත්තේ විය යුතුය. උදා:- 1, 3 , 5, 7, ..........

2. ජනෙල් ගණන ඉරට්ටේ විය යුතුය. උදා:- 2, 4, 6, 8, ..........

3. පෑන් ලයිට් ගණන් නොගනී.

4. උළුවහු ජනෙල් දෙකේම එකතුව ඔත්තේ විය යුතුය.

5. උඩ තට්ටුවක් ඇතිනම් එහි උළුවහු ජනෙල් වෙනම ගැන ගත යුතුය.

6. ප්‍රධාන උළුවස්ස ඉදිරියේ තාලවර්ගයේ ගස්, කටුගස්, රතුපාට මල් පිපෙන ගස්, කඩුල්ල, ගේට්ටුව, ප්‍රධාන පාරක් නිවසේ ප්‍රධාන දොරට එක එල්ලේ කෙලින්ම පිහිටීම, විශාල ගස් ප්‍රධාන දොර ඉදිරිපිට තිබීම, ප්‍රධාන දොරට කෙලින් මිදුලේ මඩවලවල් පිහිටීම, නිවසේ ප්‍රධාන දොරට කෙලින් වංගුවක් ආකාරයට ගමන් කරන දොලක් වැනි දියපාරක් තිබීම, නිවසේ ප්‍රධාන දොර ඉදිරියේ ළිඳක් තිබීම, ප්‍රධාන දොරට කෙලින් දේවරූප ආදිය පිහිටා තිබීම, ප්‍රධාන දොර ඉදිරියේ කණු පිහිටා තිබීම, ප්‍රධාන දොර ඉදිරියෙන් සුසාන භූමි, සොහොන් පිහිටා තිබීම, ප්‍රධාන දොරට කෙලින් එල්ලවන පරිදි වෙනත් නිවසක බිත්ති කෝණයක් පිහිටා තිබීම, නිවසේ ප්‍රධාන දොරට කෙලින් වෙනත් නිවසක දොරක් පිහිටා තිබීම, ප්‍රධාන දොර ඉදිරිපිට මලමුත්‍රා පහකරන ස්ථාන, කසල ගොඩවල්, අසුචි වලවල් තිබීම, ප්‍රධාන දොර ඉදිරිපිට ගවගාල්, එළුගාල්, කුකුල් කොටු, බලුකූඩු ආදිය පිහිටා තිබීම. ප්‍රධාන දොර ඉදිරිපිට රෙදි සෝදන ස්ථානයක් පිහිටා තිබීම, ප්‍රධාන දොර ඉදිරිපිට උළු, වලන්, ගඩොල්

පෝරණු පිහිටා තිබීම, ප්‍රධාන දොර ඉදිරිපිට ගණිකා වෘත්තියට අදාලස්ථානයක් පිහිටා තිබීම, ප්‍රධාන දොර ඉදිරිපිට අපිළිවෙලට, අපිරිසිදුවට, මිලෙච්ච ලෙස ජීවත් වන අය සිටින ස්ථානයක් පිහිටා තිබීම, ප්‍රධාන දොර ඉදිරිපිට තමන්ට වඩා උසස් තනතුරු දරන අය, මැති ඇමතිවරු ආදී අයගේ නිවාස පිහිටා තිබීම අශුභ වේ. මීට අමතරව නිවසක ප්‍රධාන දොර එය තබන බිත්තියේ හරි මැදින් තැබීම අහුභ වේ.

7. ප්‍රධාන දොර කෙලින් තරප්පු පෙල පිහිටීම අශුභයි.

8. උලුවහු වලට උඩින් යටලී බාල්ක තිබීම අශුභයි.

9.




ඉහත ආකාරයට උලුවහු තබා ඇත්නම් අශුභයි.

10.




11.

වත්ත ඉදිරිපිට / නිවස ඉදිරිපිට

| කේතු | රාහු | ශනි | සිකුරු | ගුරු | බුධ | කුජ | චන්ද්‍ර | රවි |
|---|---|---|---|---|---|---|---|---|

වත්ත ඇතුලත / නිවස ඇතුලත

වත්තේ ඇතුලේ සිට ඉදිරිපස බලා සිටගත් විට අදාල වැට සමාන කොටස් 09 බෙදා තමන්ගේ දකුණු අත පැත්තේ සිට සඳුගේ, බුධගේ, සිකුරුගේ කොටස් කඩුල්ල, ගේට්ටුව තැබීමට ශුභයි. නිවස ඇතුලේ සිට ඉදිරිපස බලා සිටගත් විට අදාල බිත්තිය සහිත පදනම සමාන කොටස් 09 බෙදා තමන්ගේ දකුණු අත පැත්තේ සිට සඳුගේ, බුධගේ, සිකුරුගේ කොටස් ප්‍රධාන උළුවස්ස තැබීමට ශුභයි. රවිගේ කොටස කඩුල්ල, ගේට්ටුව සහ ප්‍රධාන උළුවස්ස තැබීමට මධ්‍යස්ථ වශයෙන් ශුභයි.

12.




ඉහත රූපයේ දැක්වෙන ආකාරයට මාලිමාව තබා ප්‍රධාන දිශාවලට බිත්ති අනුගත වන පරිදි නූල් ගසා ගැනීමට හැකිනම් ඉතා හොඳය. නමුත් එසේ කිරීමට නොහැකි වන අවස්ථා ද තිබේ. එවැනි අවස්ථාවලදී උළුවහු ප්‍රධාන දිශාවලට අනුගත කරන ආකාරය පහත රූපයේ දැක්වේ.

13.






(14.) ප්‍රධාන උළුවස්ස අනික් ඒවාට වඩා ලොකු විය යුතුය.

(15.) උළුවහු සහ දොරවල් පලුදුවී තිබීම, දිරාපත්වී තිබීම අශුභයි.

(16.) පහත දැක්වෙන දොරටු තැබීමේ ක්‍රමය නිවසින් පිටවෙන දොරටු සඳහා බලපැවැත්වෙන අතර නිවසට සම්බන්ධ එහෙත් ප්‍රධාන කොටසට යා නොහැකි කාමර සඳහා අදාල නොවේ. එහෙත් එම කාමර සඳහා ද දොරටු තබන විට පහත දැක්වෙන ක්‍රමයෙන් ශුභ දිශාවකට දොරටුව තැබිය හැකිනම් ඉතා හොඳය.




**ධනවාසනාව, සැප, ශුභයි. (මෙහි දොරටුව බිස්සක, බංකරයක මෙන් උඩින් පිහිටා ඇත)**




**වස්තුව ලැබීම. ශුභයි.**




**ජය ශ්‍රීය. ශුභයි.**




**සැප සම්පත් විනාශය. අශුභයි.**




**අප්‍රිය බව ඇතිකරයි. අශුභයි.**




**පුත්‍ර ලාභ. ශුභයි.**




ඓශ්චර්‍ය ගෙනදේ. ශුභයි.




ස්ත්‍රී හානිය. අශුභයි.




සියලු දුක් ගෙන දේ. අශුභයි.




සියලු විනාශය. අශුභයි.




සතුරු බිය ඇතිකරයි. අශුභයි.




භෝග සම්පත්. ශුභයි.




**ධනය ගෙනදේ. ශුභයි.**




**ඉසුරු ප්‍රදානය කරයි. ශුභයි.**




**ශෝකය ඇති කරයි. අශුභයි.**




**වස්තුව ගෙනදේ. ශුභයි.**

17. ප්‍රධාන උලුවස්සේ දෝෂවලටත්, ශුභ සිද්ධිය සඳහාත් 324 වතාවක් මෛත්‍රී ශක්තිය යොදන ලද, දසදිසා පිරිතෙන්, 108 වරක් පිරිත් කරන ලද තෙල් ප්‍රධාන උලුවස්සට උඩින් ඒ ආසන්නයේ තබන්න. මේ සඳහා ප්‍රධාන උලුවස්සට ඇණ ගැසීමෙන් වලකින්න.

18. මුදුන් යටලීයේ මුට්ටු 03 ක් අශුභයි. මුදුන් යටලීයේ කුරුපා 03 ක් අශුභයි.

19. මුදුන් යටලීය මුට්ටුකරන විට යකඩ ඇණ  ගැසීම අශුභයි. මුදුන් යටලීය මුට්ටු කිරීමේදී යොදාගත යුත්තේ ලී ඇණ ගසන ක්‍රමයයි.

20. මුදුන් යටලීය ගෘහමූලිකයාගේ උසටවඩා දිග විය යුතුය.

21. මූට්ටු තිබුනත් තනිමුදුන් යටලීය එන ලෙස වහලය තිබීම ශුභයි.

22. මුදුන් යටලීය ඇදගසා තිබීම, දිරා තිබීම, අපිළිවෙලට තිබීම අශුභයි.

23. මුදුන් යටලීයට පොල් ලී හෝ පිට රටින් ගෙන්වන ලී නොගෙන වෙනත් ශක්තිමත් ලී වර්ගයක් ගත හැකි නම් ශුභයි.

24. මුදුන් යටලීයේ දෝෂවලටත් ශුභ සිද්දිය සඳහාත් ඉහත අංක 17 කියන ලද පිළිවෙලට තෙල් කුප්පියක් ඇණ නොගසා තඹ කම්බියකින් මුදුන් යටලීයේ ගෑවෙන පරිදි එල්ලිය හැකිනම් ශුභයි.

25. නිවසේ මැද සිට වත්ත කෙලවරටම ගත් විට ඊශාන දිශාවේ වැසිකිලි, වැසිකිලි වලවල්, නාන කාමර, සතුන්ගේ ගෙවල්, දර ගෙවල්. කසල ගොඩවල්, හිරු එළිය වැටීමට අවහිර වන මට්ටමේ ගස්, මිරිස්ගල, ලිප, කුස්සිය අශුභයි.

26. ඊශාන දිශාවේ තිබෙන දෝෂ අඩුකර ගැනීමට එම දිශාවේ කෝමාරිකා, බර්ඩ්නෙට්, කලගෙඩි වල සිටුවා එල්ලන ගස්, බිම් කෙසෙල්, (නැවි කෙසෙල්), මිටි ඇඹරැල්ලා, දෑසමන් වැනි ශාඛ සිටුවීම ශුභයි. වැසිකිලි වලවල් වටේටද ඉහත කී ශාඛ සිටුවීම ශුභයි.

27. ඊශාන දිශාවට ළිඳ, නිවස ඇතුලේ ආගමික කටයුතු කරන ස්ථානය, නිවසින් පිට ආගමික කටයුතු කරන ස්ථානය ශුභයි. තට්ටු නිවාස වලදී ආගමික කටයුතු කරන ස්ථානය උඩ තට්ටුවේ තිබිය යුතුය.

28. 


**මෙය ආලෝක කුරුසයයි. ආලෝක කුරුසයක් තිබෙන විට නිවසේ කිසි දෙයක් ඉතිරි නොවේ. නිවසේ රහස් නොපවතී.**




**මෙය ආලෝක සප්තම දෘෂ්ටියයි. එය අශුභයි.**




**මෙය ආලෝක ත්‍රිකෝණ දෘෂ්ටියයි. එය ශුභයි.**

29. හොඳින් ඇස්පේන අයෙකුට දවල්ට පත්තරේක කුඩා අකුරු කියවීමට තරම් වත් නිවස තුල ආලෝකයක් නැතිනම් එය අශුභයි. එවැනි අවස්ථාවලදී වීදුරු උළු ආදිය භාවිතා කිරීම සුදුසු වේ.

30. ලිපෙහි ආලෝකය ප්‍රධාන දොරටුවෙන් පෙනීම අශුභ වේ.

31. 

නිවසේ විකර්ණ රේඛාත්, මුලු රේඛාත්, මුදුන් යටලීයේ රේඛාත් නිවසේ මැද රේඛාවත් දික්කල විට එම රේඛා කැපෙන සේ ළිඳ කැපීම අශුභ වේ. ඉහත රූප සටහනේ රවුම්කර දක්වා ඇත්තේ ළිඳ කැපීමට සුදුසු ස්ථානයි.

32.




ඉඩමේ විකර්ණ රේඛා කැපෙන සේ ළිඳ කැපීම අශුභ වේ. ඉහත රූප සටහහනේ රවුම්කර ඇත්තේ ළිඳ කැපීමට සුදුසු ස්ථානයි.

33. ඉඩමේ හරිමැද ළිඳ අශුභයි. ධනහානි සිදුවේ.

- නිවසේ මැද සිට උතුරු දිශාවේ ළිඳ ශුභයි. සැපත සතුට ඇතිවේ.

  තවත් මතයකට උතුරු දිශාවේ ළිඳ ශුභයි. සෞඛ්‍යට හිතකරයි.

- නිවසේ මැද සිට ඊශාන දිශාවේ ළිඳ ශුභයි. සැප සම්පත් ලැබේ.

  තවත් මතයකට ඊශාන දිශාවේ ළිඳ ශුභයි. සියලු සැප හා දරුවන්ගේ දියුණුව ඇති වේ.

- නිවසේ මැද සිට නැගෙනහිර දිශාවේ ළිඳ ශුභයි. යස ඉසුරු ලැබේ.

  තවත් මතයකට නැගෙනහිර දිශාවේ ළිඳ අශුභයි. දරුවන්ට අහිත කරයි.

- නිවසේ මැද සිට ගිණිකොණ දිශාවේ ළිඳ අශුභයි. පුත්‍ර හානිය ඇති වේ.

  තවත් මතයකට ගිණිකොණ දිශාවේ ළිඳ අශුභයි. ගින්නෙන් විපත් ගෙන දේ.

- නිවසේ මැද සිට දකුණු දිශාවේ ළිඳ අශුභයි. ස්ත්‍රී හානිය ගෙන දේ.

  තවත් මතයකට දකුණු දිශාවේ ළිඳ අශුභයි. සතුරු බිය ඇති වේ.

- නිවසේ මැද සිට නිරිත දිශාවේ ළිඳ අශුභයි. මරණය සිදු වේ.

  තවත් මතයකට නිරිත දිශාවේ ළිඳ අශුභයි. ස්ත්‍රීන් අතර කලහ ඇති වේ.

- නිවසේ මැද සිට බටහිර දිශාවේ ළිඳ ශුභයි. සම්පත් ලැබේ.

  තවත් මතයකට බටහිර දිශාවේ ළිඳ අශුභයි. පවුලේ ස්ත්‍රීන් දුර්වල වේ.

- නිවසේ මැද සිට වයඹ දිශාවේ ළිඳ අශුභයි. සතුරු පීඩා ඇති වේ.

  තවත් මතයකට වයඹ දිශාවේ ළිඳ අශුභයි. දුප්පත් වේ.

ඉහත කරුණු අනුව උතුර, ඊශාන දිශාවල ළිඳ තිබීම ඉතා ශුභයි. එයිනුත් ඊශාන දිශාව වඩා ශුභ වේ. නැගෙනහිර සහ බටහිර දිශාවල ළිඳ තිබීම සාමාන්‍යයෙන් ශුභ වේ.

34. උතුරට සහ නැගෙනහිරට මුහුණලා වතුර ගැනීමට තිබීම ශුභයි. එවිට වතුර ගන්නා ස්ථාන එන්නේ ළිඳේ මැද සිට දකුණටත් බටහිරටත්ය.

35. ළිඳේ දෝෂ පවතින විට පහත රූපයේ දැක්වෙන ආකාරයට ළිඳ වටකර අඩි 07 පමණ උස බැම්මක් බඳින්න.




36. 


නිවසේ ගිනිකතුර හෙවත් විකර්ණ එකිනෙකට කැපෙන ස්ථානයේ මුදුන් යටලීය. බිත්ති, ස්ථම්භ, උළුවහු තිබීම, බර දේවල් තැබීම සහ එම ස්ථානය පෑගීමට ලක්වීම අශුභ වේ. එම ස්ථානය පෑගීමෙන් වලක්වා ගැනීමට බර අඩු කනප්පුවක් වැනි යමක් එම ස්ථානයේ තබන්න.

37. **ඉඩමේ හැඩය**



**චතුරස්‍ර භූමිය**
වාසනාව දියුණුව ඇති කරයි. ශුභයි.



**ආයත භූමිය**
අපේක්ෂා ඉටුවේ. ශුභයි.



**ත්‍රිකෝණ භූමිය**
දියුණුවට බාධා ඇති වේ. අශුභයි.



**විෂම භූමිය**

ශෝකය, බිය ඇති කරයි. අශුභයි.



**වෘර්තාකාර භූමිය**

යහපත සතුට උදාකරයි. ශුභයි.



**චක්‍ර භූමිය**

දිළිඳු බව ඇති වේ. අශුභයි.



**දණ්ඩ භූමිය**

සිව්පාවෝ නැසේ. අශුභයි.



**භද්‍රාසන භූමිය**

මැදින් උස්ව ඇති අතර උස් වූ කොටස ආසනයක් මෙන් පිහිටා ඇත. දියුණුව උදාකරයි. ශුභයි.



**බෘහත් මුඛ භූමිය**

මිනිස් මුහුණක හැඩය ගනී. ඥාති විරෝධතා ඇති වේ. අශුභයි.



**ව්‍යජනාකාර භූමිය**

පොරෝවක හැඩය ගනී. ධන හානිය ඇති වේ. අශුභයි.



**සකට භූමිය**

කරත්තයක හැඩය ගනී. දියුණුවට බාධා ඇති වේ. අශුභයි.



**ධනවාකාර භූමිය**

දුන්නක හැඩය ගනී. අඬදබර ඇතිවේ. අශුභයි.



**පණවස්ථාන භූමිය**

පණා බෙරයක් මෙන් අටපැති ඇති භූමියකි. ලෙඩ රෝග පීඩා ඇති කරයි. අශුභයි.



**ශූර්ප භූමිය**

කුල්ලක හැඩයගනී. දියුණුවට බාධා ඇති වේ. අශුභයි.



**කූර්ම පෘෂ්ඨ භූමිය**

ඉදිබුවෙකුගේ පිටක් බදු හැඩය ගනී, බන්ධන පීඩා, යක්‍ෂ භූත උවදුරු ඇති වේ. අශුභයි.



**කූට භූමිය**

කුම්භක හැඩය ගනී. ධනය විනාශ කරයි. හානි පීඩා ඇති කරයි. අශුභයි.

38. අශුභ හැඩැති භූමිවල එම දෝෂය අයින් කිරීමට එම භූමියට ගැලපෙන පරිදි ශුභ හැඩයකට එනසේ පාවට්ටා ගස්, කෝප්ප කොල ගස් වැනි දේවල් යොදාගන අදාල ස්ථානයට යෑමට හැකිවන පරිදි ඉඩතබා වැටක් ගසන්න.

39. මිරිස්ගල:- නිවස ඇතුලට තදකර මිරිස් ඇඹරීම අශුභයි. බටහිරට මුහුණලා මිරිස් ඇඹරීම අශුභයි. මිරිස් ගල නිවසේ මැද සිට ඊශානටත්, ගිණිකොණටත්, බටහිරටත්, අශුභයි. නැගෙනහිරට මුහුණලා මිරිස් ඇඹරීම ශුභයි.

40. චිමිනිය හෙවත් පෝරනුව බටහිරට මුහුණලා ලිපගිනිමෙලවීමට තිබීම, ප්‍රධාන බිත්ති කොණට සැකසීම අශුභයි. චිමිනිය හෙවත් පෝරනුව නැගෙනහිරට මුහුණලා ලිපගිනි මෙලවීමට තිබීම ශුභයි.

41.







**42. නිවසක අංග ස්ථානගත කිරීම.**

උතුර :- වටිනා බඩු තැන්පත් කරන ස්ථානය (ධනය හා වටිනා දේවල්) සාලය, ආලින්දය

ඊශාන :- ආගමික කටයුතු කරන ස්ථානය, සාලය, ආලින්දය

නැගෙනහිර :- සාලය, ආලින්දය, නාන කාමරය

ගිණිකොණ :- කුස්සිය ( කුස්සිය වෙනත් දිශාවලට ඇතුලත් කිරීම වරදකි)

දකුණ :- නිදන කාමර

නිරිත :- ආයුධ ගබඩාව, වැසිකිලිය

බටහිර :- කෑම කාමරය, දරුවන්ගේ කාමර

වයඹ :- ධාන්‍ය ගබඩාව, අමුත්තන්ගේ කාමරය

43.



කුරුස බිත්ති තිබීම අශුභයි.

44. මුදුන් බිත්ති 03 ක් තිබීම අශුභයි.

45. මුදුන් බිත්ති 03 ක් ඇතිවිට මැද බිත්තිය කනුවක් ආකාරයට සකස් කිරීම කල හැකිය.

46. **ඉඩමේ පාද බෙදීම**




මනුෂ්‍ය පාදය සහ දේව පාදය ගෙවල් සෑදීමට ශුභ වේ.

## 47. නිවාස වර්ග කිරීම

| නිවාස නැකැත් 09 ට අදාලව උපන් නැකැත්වලට ගැලපෙන වර්ග ඵල සටහන | | | | | | |
|---|---|---|---|---|---|---|
| නිවාස නැකත | | ධ්වජ ආය | සිංහ ආය | වෘෂභ ආය | ගජ ආය | වර්ගඵලවලට ගැලපෙන උපන් නැකැත් |
| අද | මුඛ්‍ය පින්ඩය<br>සිද්ධි පින්ඩය<br>,, ,, | 129<br>777<br>1209 | 75<br>723<br>1155 | 21<br>669<br>1101 | 183<br>831<br>1263 | අස්විද, කැති, මුවසිරස, පුනාවස, පුෂ,මා, උත්‍රපල්, සිත, විසා, අනුර, මුල, උත්‍රසල, දෙනට, පුවපුටුප, උත්‍රපුටුප |
| පුනාවස | මුඛ්‍ය පින්ඩය<br>සි.පින්ඩය<br>,, ,, | 65<br>929<br>1145 | 11<br>875<br>1091 | 173<br>1037<br>1253 | 119<br>983<br>1199 | බෙරණ, රෙහෙණ, අද, පුෂ, අස්ලිස, පුවපල්, හත, සා, අනුර, දෙට, පුවසල, සුවණ, සියාවස උත්‍රපුටුප, රේවතී |
| පුෂ | මුඛ්‍ය පින්ඩය<br>සි.පින්ඩය<br>,, ,, | 1<br>865<br>1081 | 163<br>1027<br>1243 | 109<br>973<br>1189 | 55<br>919<br>1135 | අස්විද, කැති, මුවසිරස, පුනාවස, අස්ලිස, මා, උත්‍රපල්, සිත, විසා, දෙට, මුල, උත්‍රසල, දෙනට, පුවපුටුප, රේවතී |
| අස්ලිස | මුඛ්‍ය පින්ඩය<br>සි.පින්ඩය<br>,, ,, | 153<br>1017<br>1233 | 99<br>963<br>1179 | 45<br>909<br>1125 | 207<br>1071<br>1287 | අස්විද, බෙරණ, රෙහෙණ, අද, පුෂ, මා, පුවපල්, හත, සා, අනුර, මුල, පුවසල, සුවන, සියවස, උත්‍රපුටුප |
| මා | මුඛ්‍ය පින්ඩය<br>සිද්ධි පින්ඩය<br>,, ,, | 89<br>953<br>1169 | 35<br>899<br>1115 | 197<br>1061<br>1277 | 143<br>1007<br>1223 | බෙරණ, කැති, මුවසිරස, පුනාවස, අස්ලිස, පුවපල්, උත්‍රපල්, සිත, විසා, දෙට, පුවසල, උත්‍රසල, දෙනට, පුවපුටුප, රේවති |
| පුවපල් | මුඛ්‍ය පින්ඩය<br>සි.පින්ඩය<br>,, ,, | 25<br>889<br>1105 | 187<br>1051<br>1267 | 133<br>997<br>1213 | 79<br>943<br>1159 | අස්විද, කැති, රෙහෙණ, අද, පුෂ, මා, උත්‍රපල්, හත, සා, අනුර, මුල, උත්‍රසල, සුවණ, සියාවස, උත්‍රපුටුප |
| සියාවස | මුඛ්‍ය පින්ඩය<br>සි.පින්ඩය<br>,, ,, | 57<br>921<br>1137 | 03<br>867<br>1083 | 165<br>1029<br>1245 | 111<br>975<br>1191 | අස්විද, කැති, මුවසිරස, පුනාවස, පුෂ,මා, උත්‍රපල්, සිත, විසා, අනුර, මුල, උත්‍රසල, දෙනට, පුවපුටුප, උත්‍රපුටුප |
| පුවපුටුප | මුඛ්‍ය පින්ඩය<br>සි.පින්ඩය<br>,, ,, | 209<br>1073<br>1289 | 155<br>1019<br>1235 | 101<br>965<br>1181 | 47<br>911<br>1127 | බෙරණ, රෙහෙණ, අද, පුෂ, අස්ලිස, පුවපල්, හත, සා, අනුර, දෙට, පුවසල, සුවණ, සියාවස, උත්‍රපුටුප, රේවතී |
| උත්‍රපුටුප | මුඛ්‍ය පින්ඩය<br>සි.පින්ඩය<br>,, ,, | 145<br>1009<br>1225 | 91<br>955<br>1171 | 37<br>901<br>1117 | 199<br>1063<br>1279 | අස්විද, කැති, මුවසිරස, පුනාවස, අස්ලිස, මා, උත්‍රපල්, සිත, විසා, දෙට, මුල, උත්‍රසල, දෙනට, පුවපුටපු, රේවතී |

ඉහත වගුවේ කොටුකර ඇති කොටස් වල පමණක් අයට වඩා වැය වැඩිය.

නිවසක වර්ගඵලය සෑදීමට මිම්ම ගන්නේ පදනමේ පිටින් පිටයි. ඉහත සඳහන් සටහනේ ඇති මුඛ්‍ය පින්ඩවලට 216 කොටස් එකතු කිරීම තුලින් අපට අවශ්‍ය ශුභ වර්ගඵලය හෙවත් සිද්ධි පින්ඩ සාදාගත හැකිය. ශුභ වර්ගඵලය ගණන් ගැනීමේදී ශුභ වර්ගඵලයට දශම ගාණක් වැඩි වූ විට එය ගන්නේ නැත. ශුභ වර්ගඵලයට දශම ගාණක් අඩු වී තිබෙන විට එය ශුභ වර්ගඵලය ලෙස ගණන් ගනී. උදා: වර්ග අඩි 1017 ශුභ වර්ගඵලය ලෙස සිතමු. මෙහිදී 1017.05 වගේ ආවිට එය ගන්නේ නැත. නමුත් 1016.05 වගේ ආවිට එය ශුභ වර්ගඵලය ලෙස ගණන් ගනී.

මුඛ්‍ය පින්ඩය මගින් සිද්ධි පින්ඩ සාදාගැනීමට, මුඛ්‍ය පින්ඩයට 216 කොටස් එකතු කරන ආකාරය පහත දැක්වේ.

උදා:- මුඛ්‍ය පින්ඩය අස්ලිස නිවාස නැකතේ 153 වු විට

153
+216
369 ← සිද්ධි පින්ඩය (ශුභ වර්ගඵලය)
+216
585 ← සිද්ධි පින්ඩය (ශුභ වර්ගඵලය)
+216
801 ← සිද්ධි පින්ඩය (ශුභ වර්ගඵලය)
+216
1017 ← සිද්ධි පින්ඩය (ශුභ වර්ගඵලය)

අනුර නැකතින් උපන් කෙනෙකුට නිවසේ බලාපොරොත්තු වන වර්ගඵලය වර්ග අඩි 1011 යැයි සිතමු. එයට ආසන්නව අස්ලිස නිවාස

නැකත ගැලපේ. අස්ලිස නිවාස නැකතේ ධ්වජ ආයේ වර්ග අඩි 1017 ක් ඇත. එය ශුභ වර්ග ඵලය ලෙස යොදාගත හැක. දැන් කළයුත්තේ වර්ග අඩි 1017 ශුභ වර්ගඵලයට ගැලපෙන ලෙස දිග හෝ පළල වෙනස් කිරීමයි.

48. උපන් නැකතක් නොමැති අවස්ථාවලදී අදාල පුද්ගලයාගේ වැඩියෙන්ම භාවිතා වන නමේ මුල්අකුර යොදාගත හැක. උදාහරණයක් වශයෙන් ජන්ම පත්‍රයක් නොමැති නිශාන්ත වීරසිංහගේ උපන් නැකත වශයෙන් ''නි'' යන්නට හිමි අනුර නැකත ගත හැක. එම නැකතට හිමි ''නි'' දෙවන අකුර නිසා අනුර නැකතේ දෙවැනි පාදයෙන් ඉපදී ඇතිසේ ගැනීම පෙන්වා දිය හැක. පහතින් නැකැත් පාද හිමි අක්ෂර සටහන දක්වා ඇත.

**නැකත් පාද හිමි අක්ෂර**

| නැකත | 1 | 2 | 3 | 4 | නැකත | 1 | 2 | 3 | 4 | නැකත | 1 | 2 | 3 | 4 |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| අස්විද | චූ | වෙ | වො | ල | මා | ම | මී | මූ | මෙ | මුල | යෙ | යො | බ | බි |
| බෙරණ | ලි | ලූ | ලෙ | ලො | පුවපල් | මො | ට | ටි | ටු | පුවසල | බු | ධ | ඵ | ඪ |
| කැති | අ | ඉ | උ | ඒ | උත්‍රපල් | ටෙ | ටො | ප | පි | උත්‍රසල | බෙ | බො | ජ | ජී |
| රෙහෙණ | ඔ | ව | වි | වු | හත | පු | ෂ | ණ | ඨ | සුවණ | ජූ | ජෙ | ජො | ඝ |
| මුවසිරස | වෙ | වො | ක | කි | සිත | පෙ | පො | ර | රි | දෙනට | ග | ගි | ගු | ගෙ |
| අද | කු | ඝ | ඩ | ඡ | සා | රු | රෙ | රො | ත | සියාවස | ගො | ස | සි | සූ |
| පුනාවස | කෙ | කො | හ | හි | විසා | ති | තු | තෙ | තො | පුවපුටුප | සෙ | සො | ද | දි |
| පුෂ | හු | හෙ | හො | ඩ | අනුර | න | නි | නු | නෙ | උත්‍රපුටුප | දූ | ථ | ඣ | ඤ |
| අස්ලිස | ඩී | ඩු | ඩෙ | ඩො | දෙට | නො | ය | යි | යු | රේවතී | දෙ | දො | ච | චි |

49. පහන් තැබීම - නිවසින් පිටත පහන් තබනවානම් නිවස මැදසිට ඊශාන දිශාවේ පහන් තැබීම ශුභයි. එහෙත් එම පහන් ආලෝකය කෙලින්ම නිවස තුලට වැටීම අශුභයි.

50. පොකුණු සෑදීම - නිවස මැද සිට උතුරින්, නැගෙනහිරින්, බටහිරින් පොකුණු සෑදීම ශුභයි. නිවස මැද සිට ගිණිකොණට දකුණට පොකුණු සෑදීම අශුභයි.

51. නිවසට, ඉඩමට අමනුෂ්‍ය දෝෂ හෝ විනදෝෂ ඇත්නම් පහත ලක්‍ෂණ වලින් 10 ක් වත් තිබේනම් අමනුෂ්‍ය දෝෂ හෝ විනදෝෂ ඇති බව අනුමාන කළ හැක.

1. නිතරම ඉඩමට කබරගොයින් පැමිණීම.
2. වේයන් නිවස තුලට පැමිණීම.
3. නිතර වවුලන්ගේ පැමිණීම.
4. නයි කූඹින් නිවස තුලට පැමිණීම.
5. නිතර නිතර ඉඩම තුල බල්ලන් අසුචි පහකර තිබීම.
6. සාමාන්‍ය ප්‍රමාණයට වඩා ගෙදර මකුළුදැල් බැදීම.
7. මස් බෙල්ලන් බහුලව සිටීම.
8. ගෙම්බන් නිවස තුලට පැමිණීම.
9. සාමාන්‍ය ප්‍රමානයට වඩා මැස්සන් සිටීම.
10. නිතරම ඉඩම තුළ බළලුන් රණ්ඩු වීම.
11. නිතර ඉඩම තුල බල්ලන් උඩුබිරීම.
12. අයාලේ යන බල්ලන් නිවසට පැමිණීම.
13. නිතර කුරුමිණියන් නිවස තුලට පැමිණීම.
14. ගැඩවිල්ලන් මතුවීම.
15. ගෙරිපස් මතුවීම.
16. කණ වෙයියාවන් සිටීම.
17. බඹර බැදීම.
18. දෙඹර බැදීම.
19. වල් ඌරන් නිතර වත්තට පැමිණීම.
20. නිතරම කටුස්සන් නිවස තුලට පැමිණීම.
21. බස්සන් නිතර වත්තට පැමිණීම.
22. පරවියන්ගේ පැමිණීම.
23. අඳුරු වර්ණ ඇඳුම් ඇදීමට ප්‍රියවීම.

24. මඤ්ඤොක්කා තම්බන සුවඳ ඒම සහ අමනුෂ්‍ය ගඳයැයි සම්මත ගඳවල් ඒම.
25. නිතර කෙසෙල් ගස් වඳ පීදීම.
26. උයන මාළු පිනිවල රස අඩු වීම.
27. බත් කල් තබා ගැනීමට නොහැකි වීම.
28. දුක් අඳෝනා ඕපදූප කියන අය නිතර නිවසට පැමිණීම.
29. සර්පයින් සිහිනෙන් දෂ්ට කිරීම.
30. බල්ලන් සිහිනෙන් පෙනීම.
31. ගෙදර අය සිහිනෙන් භයවීම.
32. පිළිකා.
33. කකුල් අමාරු.
34. කොන්දෙ අමාරු.
35. ඇඟේ දැවිලිගති ඇතිවීම.
36. කල්පනා ශක්තිය අඩුවීම.
37. නිවසේ නිතර රණ්ඩු දබර ඇති වීම.
38. නිතර හදිසි අනතුරුවලට ලක්වීම.
39. කරන වැඩ වැඩි ප්‍රමාණයක් අසාර්ථක වීම.
40. නිතර අන් අයගේ දෝෂ දර්ශනයට ලක් වීම.

ඉහත දෝෂ වැඩි ප්‍රමාණයක් පවතීනම් ඒවා අයින්කර ගැනීමට මාර්ග පෙන්වා දෙන ලෙසත්, දෝෂ අයින්කර ගැනීමට ආධාර උපකාර කරන ලෙසත් ඉල්ලා ප්‍රදේශ භාර දෙවියන්ට පළතුරු පූජාවක් දී කරදර නිමවු පසු නැවත පළතුරු පූජාවක් දෙන බවට පඬුරක් ගැට ගසන්න. මීට අමතරව විෂ්ණු, කතරගම, දැඩිමුණ්ඩ, ගණ දෙවියන් ආදී දෙවිවරුන්ටත් ඉහත ආකාරයෙන් පූජා පවත්වා පඬුරු ගැටගැසීම ශුභයි. ඒමගින් වංචාවලට අසුනොවී ඔබගේ අරමුණු කරා යෑමට මඟ පෑදෙනවා ඇත.

## 52. සිටුවීමට ශුභ ගස්

මල් පිපෙන ගස් වර්ග ශුභයි. (කටුගස්, රතුපාට මල් පිපෙන ගස් හැර) කොහොඹ, ගල් උණ (උදලු මිටක් තරම් මහත් වන කොළපාට උණ විශේෂය) බෙලි, දෑසමන්. කෝමාරිකා, අඹ, බිම්කෙසෙල්, (නැවි කෙසෙල්), ඉරිවේරිය, කප්පරවල්ලිය, සැවැන්දන, රම්පෙ, බුලත්, මිදි, බර්ඩ් නෙට්, කලගෙඩිවල සිටුවා එල්ලන ගස් වර්ගය, මිටි ඇඹරුල්ලා සිටුවීම ශුභයි.

## 53. සිටුවීමට අශුභ ගස්

උස වෘක්ෂ නිවස ඉදිරිපිට සිටුවීම අශුභයි. මේ අනුව පොල්. තැඹිලි වැනි තාල වර්ගයේ ගස් නිවස ඉදිරිපිට සිටුවීම අශුභ වේ. එහෙත් වත්තේ කෙලවරක සිටුවීම ගැටළුවක් නැත. කටු සහිත ගස් රතු පාට මල් පිපෙන ගස්, වැටකෙයා ගස්, අරලියා ගස් නිවස ඉදිරිපිට සිටුවීම අශුභ වේ.

54. ගෙවත්තේ සිටුවා ඇති ගස්වල අතු මැරී ඇත්නම් එම අතු ඉවත් කළ යුතුය.

## 55. නිවාස ආරක්ෂාවක්

නිවාස ආරක්ෂා කිරීමට යොදාගන්නා තෙල්, මුහුදු වැලි ගලාගෙන යන දියපාරකින් ලබාගත් ගල්කැට, දුම් ඇල්ලීමට ගන්නා ද්‍රව්‍ය ආදී නිවාස ආරක්ෂා කිරිමට යොදාගන්නා සියලුම දේවල් වලට මුලින්ම මෛත්‍රී ශක්තිය 324 වතාවක් යොදා ඉන් පසුව දස දිසා පිරිතෙන් 108 වරක් පිරිත්කර ගන්න. මෙහිදී මෛත්‍රී ශක්තිය යොදා ගැනීම වෙනුවට කරණීය මෙත්ත සූත්‍රය 108 වරක් කීමද ශුභයි.

### මෛත්‍රී ශක්තිය

මෙම මෛත්‍රී ශක්තිය තුලින් සිතේ ශක්තිමත් බව ඇති වීම, අන් අය තුලින් වැඩිපුර ශුභ ප්‍රතිචාර ලැබීම, යහපත් කටයුතු වල සාර්ථකත්වයන් ඇතිවීම ආදිය බලාපොරොත්තු වියහැක. මීට අමතරව මෛත්‍රිය වැඩීමේ ගුණ බෞද්ධ දර්ශනයේ තව බොහෝ දක්වා තිබේ. නිවාස ආරක්ෂාව සඳහා මෛත්‍රී ශක්තිය යොදාගැනීමට හේතුව වන්නේ අනිකුත් ආරක්ෂා ක්‍රම තුලින් නිවසත්, තමනුත් ආරක්ෂා

උනත් අපට සතුරුකම් කරන මනුෂ්‍ය කොට්ඨාස, අමනුෂ්‍ය කොට්ටාස අපට උදව් කරන අයට බලපෑම් කිරීම තුලින් අපට වක්‍ර ලෙස බලපෑම් කිරීමට ඉඩ තිබෙනවා. එබැවින් එවැනි කොට්ටාස සිටී නම් ඔවුන් සන්සුන් කිරීමේ අරමුණ ඇතිව මෛත්‍රී ශක්තිය යොදවනු ලැබේ.

තමන්ටම මෙය යොදාගන්නා ආකාරය මුලින්ම දක්වනු ලැබේ. මෙහිදී ධනවත් වේවා යන යෙදුම  තරමක කුතුහලයක් ගෙන දීමට ඉඩතිබේ. එසේ සිතේ නම් ඒ ගැන කීමට ඇත්තේ ආර්ය ධනයත්, භෞතික ධනයත් යන දෙකෙන් කැමති එකක් හෝ ඒ දෙකම සිතාගත හැකිය යන්නය.

මුලින්ම මම   නිදුක් වේවා, නිරෝගි වේවා. සුවපත් වේවා, ධනවත් වේවා, ප්‍රඥාව වන්ත වේවා, වෛර නැත්තෙක් වේවා. තරහ නැත්තෙක් වේවා. කම්මැලි නැත්තෙක් වේවා, සුවපත් වූ සිත් ඇත්තෙක් වේවා යනුවෙන් 108 වරක් කියන්න.

දෙවනුව සියලු සත්වයෝ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, ධනවත් වේවා, ප්‍රඥාවන්ත වේවා, වෛර නැත්තෝ වේවා, තරහ නැත්තෝ වේවා, කම්මැලි නැත්තෝ වේවා, සුවපත්වූ සිත් ඇත්තෝ වේවා යනුවෙන් 108 වරක් කියන්න.

ක්‍රමය:-     ඇට 108 ක් තිබේදැයි බලාම නව ගුණ වැලක් මිලදී ගන්න. ඉන් පසුව නිස්කලංක වෙලාවක සක්මන් කරමින්, ඉඳගන, හිටගෙන, සැතපෙන ආදී සතර ඉරියව් වලින් කැමති එකකින් ඉහත පාඨ දෙකම තමන්ට පමණක් ඇසෙන ලෙස හෝ සිතින් කියන්න. මුලින්ම පළමු පාඨය 108 වරක් කියා ඉවර කර ඉන් පසුව දෙවැනි පාඨය 108 වරක් කියන්න. එලෙස දිනකට 108 වර, 108 වර බැගින් පාඨ දෙකම කීම ප්‍රමාණවත් වේ.

වැඩිපුර වීර්ය යොදා වේගයෙන් ඇවිදින විට වෙහෙසට පත්වන්නා සේ වැඩි වේගයෙන් කියන විටද වෙහෙසට පත් වේ. පෝලිමකදී පෝලිමේ හෙමිහිට යන විටද සිතට පීඩනයක් ගෙනදේ. එලෙසම අඩු වේගයෙන් කියන විටද පීඩනයක් ඇති විය හැක. එබැවින් සිතට සහනයක් දැනෙන වේගයෙන් ඉහත පාඨ කියන්න.

මෛත්‍රී පාඨකියා අවසන් වූ පසු තමන්ට පමණක් ඇසෙන සේ මම රැස්කරගත් සියලුම භාවනාමය කුසල කර්මයන් මාගේ ඉෂ්ට දෙවි දේවතාවුන් වහන්සේලාට අනුමෝදන් කරමි. අනුමෝදන් වේවා. කියා 03 සැරයක් කියන්න. මම රැස්කරගත් සියලුම භාවනාමය කුසල කර්මයන් සියලුම සම්‍යක් දෘෂ්ටික දෙවිදේවතාවුන් වහන්සේලාට අනුමෝදන් කරමි. අනුමෝදන් වේවා කියා 03 සැරයක් කියන්න. මීට අමතරව තමන් කැමති දෙවි දේවතාවුන් වහන්සේලාටත් ඉහත ආකාරයට පිං අනුමෝදන් කළ හැකිය.

නිවාස ආරක්ෂාවට මෛත්‍රී ශක්තිය යොදා ගන්නා විට ගන්නේ, දෙවැනි පාඨයයි. එය සියලු සත්වයෝ නිදුක් වේවා, නිරෝගි වේවා, සුවපත් වේවා, ධනවත් වේවා, ප්‍රඥාවන්ත වේවා, වෛර නැත්තෝ වේවා, තරහ නැත්තෝ වේවා, කම්මැලි නැත්තෝ වේවා, සුවපත් වූ සිත් ඇත්තෝ වේවා කියා සාමාන්‍යයෙන් ඇසෙන පරිදි 324 වරක් කියන්න.

56. දිනපතා සිතට සහනයක් දැනෙන වේගයෙන් කරණීය මෙත්ත සූත්‍රය අඩුම වශයෙන් 21 වතාවක්වත් කියා දෙවි දේවතාවුන් වහන්සේලාට පිංදිය හැකිනම් බොහෝ යහපත උදාකරගත හැක.

## 57. දස දිසා පිරිත

1. දිසාසු දස භාගෙසු
   ඨිතා බුද්ධානු භාවතො
   වෙරාදි අන්තරායාපි
   විනස්සන්ති අසෙසතො

2. එවමාදි ගුණොපෙතං
   පරිත්තං තං භණාමහෙ
   පදුමුත්තරො පුරත්ථිමායං
   අග්ගිම්හි චෙව රේවතො

3. දක්ඛිණෙ කස්සපො බුද්ධො
   නෙරුතේච සුමංගලො
   පච්ඡිමෙච සිඛී බුද්ධො
   වායව්‍යා මෙධංකරො

4. උත්තරෙ පියදස්සීච
   ඊසානෙ දීපංකරො
   පඨව්‍යා කකුසන්ධොච
   ආකාසෙ සරණංකරො

5. ඒවං දසදිසා චෙව
සබ්බේ බුද්ධා පතිට්ඨිතා
අච්චන්තරායා සබ්බෙ (තෙ/මෙ)
සොක රෝග භයා පිච

6. විනස්සන්තු සදා (තුය්හං / මය්හං)
සබ්බීරියා පථෙසුච
යක්ඛාදි දේවතා හීච
රාජ චොරාදි අග්ගිහි

7. අමනුස්සෙහි සබ්බෙහි
තිරච්ඡාන ගතෙහිච
ජාතා උපද්දවා සබ්බෙ
විනස්සන්තු අසෙසතො

- ❖ **අනුන්ට කියන විට "තෙ" කියා ද, තමන්ට කියන විට "මෙ" කියාද 05 වැනි ගාථාවේදී යොදන්න.**
- ❖ **අනුන්ට කියන විට "තුය්හං" කියාද, තමන්ට කියන විට "මය්හං" කියාද 06 වැනි ගාථාවේදී යොදන්න.**

58. මෙම පොතෙහි අරමුණ ජ්‍යොතිෂ වාස්තු විද්‍යාව නොදන්නා කෙනෙකුට වුවද ඒවා දැන ගැනීමට අවස්ථාව සලසා දීමයි. ඒ අනුව වාස්තු විද්‍යාව තුල තිබෙන දේවල් සත්‍යද යන්න දැන ගැනීමට ඒ ගැන සොයා බැලීම් කළ හැකිය. අප සොයා බැලීමට ගන්නා කාරණය පොත් වල තිබුනාටවත්, කෙනෙක් කීවාටවත් පිළිගත යුතු නැත. ඒ ගැන අපට සොයා බැලිය හැක. එය කරන්නේ සොයා බැලීමට මූලිකවන කාරණාව තිබෙන ස්ථාන රැසක් නිරීක්ෂණය කිරීමෙනි. ඒ මගින් වාස්තු විද්‍යාවේ තිබෙන කරුණු ගැන හොඳ අවබෝධයක් ඇති කර ගත හැක. ඒ ගැන උදාහරණ කීපයක් පහත දැක්වේ.

1. ඇමරිකන් පැටන් නිවාස, මෙම නිවාස දැනට දැක ගැනීමට ලැබෙන්නේ කලාතුරකිනි. බොහෝ විට මෙම නිවාස වල වහලයට ඇස්බැස්ටෝස් යොදා ඇත. මෙවැනි නිවාස වල වාසය කරන අයට ගැටළු ඇති බව දක්නට ඇත.

2. නිවසක ප්‍රධාන දොර තබා ඇති බිත්තියේ මැද සිට ප්‍රධාන දොර දෙස බලන විට (නිවසේ පිට පැත්තේ සිට) දකුණු අත පැත්තේ කෙලවරට ආසන්නයේ දොරවල් තබා ඇති නිවාස වල පාද

අමාරු තිබෙන අය, කල්පනා ශක්තිය අඩු අය, ඇවිදීමට අපහසු අය, දියුණුව අඩු අය ඇති බව දක්නට ලැබේ. එම කොටසට එන්නේ ද ශනිගේ, රාහුගේ, කේතුගේ පාදයි. ඊට අදාලව එම නිවාස වල සිටින අයට ගැටළු ඇතිවන බව පෙනේ.

3. මෙම පොතෙහි සඳහන් කර ඇති දොරවල් තැබීමේ ක්‍රමය අනුව ඇතිවන ප්‍රතිඵල සත්‍ය බව අත්දැක තිබේ. ඒ බව හිතවත් අයගේ නිවාස වල දොරටු තබා ඇති ආකාරය පරීක්ෂා කිරීමෙන් වටහාගත හැක.

4. නිවසින් පිටට පන්නා ඇති ප්‍රධාන දොරට උඩින් මුදුන් යටලීයක් එන, බොහෝ විට ප්‍රධාන දොර ඉදිරියේ කණු කීපයක් එන වහලයක් තිබීම අශුභ බව පෙනීගොස් ඇත. එහි මුදුන් යටලීය ප්‍රධාන උලුවස්ස මැද්දට එනවාට කියා උලුවස්සේ හරිමැදින් යාන්තම් පෙනෙන නොපෙනෙන ගානට පන්නන අවස්ථා ඇත. නමුත් මුදුන් යටලීය ප්‍රධාන උලුවස්ස උඩනිසා දෝෂය පවතී. මෙවැනි නිවාස අධ්‍යනය කිරිම තුලින් එහි ප්‍රතිඵල වටහාගත හැක.

5. ප්‍රධාන උලුවස්ස සහ දොර දිරාතිබීම, සතුන්ගේ හානිවලට ලක් වී තිබීම අශුභ ප්‍රතිඵල ගෙනදෙන බව පෙනේ. එයද කලින් ආකාරයටම නිරීක්ෂණය කිරීම තුලින් වටහාගතහැක.

6. ප්‍රධාන දොර ඉදිරියේ කණු තිබීම ස්ථම්භ වේද දෝෂයයි. මෙය ඇතිවිට නිවැසියන්ගේ වැඩ වලට බාධා ගෙන දේ.

7. මුදුන් යටලීය දිරාතිබීම, සතුන්ගේ හානිවලට ලක්වී තිබීම, යකඩ ඇණ ගසා මුට්ටු කර තිබීම. අපිළිවෙලට සකසා තිබීම, ඇදගසා තිබීම වැනි කරුණු ඇතිවිට එය ගෘහ මූලිකයාගේ හිසට බලපෑම් කරන බව පෙනී ගොස් ඇත.

8. මුදුන් යටලී කීපයක් සහිතව වහලය කොටස් කීපයකට සකසා තිබීමත් අශුභ බව පෙනීගොස් ඇත.

9. නිවස මැද සිට ඊශාන දිශාවේ වැසිකිලි, වැසිකිලි වලවල්, සතුන්ගේ ගෙවල්, කසල ගොඩවල්, ලිප ආදිය පිහිටා ඇති ස්ථාන කීපයක් පරීක්ෂා කිරීම තුලින් එහි ප්‍රතිඵල වටහාගත හැක.

10. නිවසේ හැඩය විෂම වීම හෙවත් කොටස් පිටට පන්නා තිබීම හෝ මෙම පොතෙහි පෙන්වා තිබෙන ආකාරයට කොටස් අඩු වී තිබීම දෝෂ සහිත තත්වයකි. ඍජුකෝණාස්‍රාකාර හැඩය නිවසකට සුදුසුම හැඩය බව ප්‍රකාශ කළ හැක.

11. නිවසක පදනම දමද්දී පසුව කැපීමේ අරමුනින් නිවසට බාධා ගෙනදෙන ගස් ඉතිරිකර ඇති ස්ථානවල නිවස සෑදීමේ කටයුතු ප්‍රමාද වී ඇති බව දැකගැනීමට ලැබී ඇත.

12. මෙම පොතෙහි සඳහන් ආලෝක කුරුසය සහ ආලෝක සප්තම දෘෂ්ටිය ඇති ස්ථාන වල මුදල් ඉතිරිකර ගැනීමට අපහසු බව අසන්නට ලැබී ඇත.

13. බර්ඩ් නෙට්, කලගෙඩිවල සිටුවා එල්ලන ගස්, මිටි ඇඹරුල්ලා බිම් කෙසෙල් (නැවි කෙසෙල්), විලාටි අඹ, ගල් උණ, මිදි, බුලත් තිබෙන නිවාස වල සශ්‍රීක බවක් දක්නට ඇත. එහෙත් වැටකෙයා ගස් තිබෙන ස්ථාන වල පාලුගතියක් දක්නට ඇති බව පෙනේ. මේවා අධ්‍යයනය කිරීම් තුළින් දැනගත යුතු කරුණුය.

14. කුලියට හෝ බද්දට දෙන නිවාස සහ කඩකාමර ගැන සොයා බැලීමේදී, එකම ස්ථානයකදී කීපදෙනෙකුටම ශුභ ප්‍රතිඵල ලැබීමත්, එකම ස්ථානයකදී කීපදෙනෙකුටම අශුභ ප්‍රතිඵල ලැබීමත් අනුව ස්ථානවල ශුභ දායක, අශුභ දායක තත්වයන් ඇතිබව වටහාගත හැක.

59. වාස්තු විද්‍යාවේදී නව නිවසක් ඉදිකිරීමේ දී පැරණි නිවාස වලින් ඉවත් කරන ලද ගල්, ගඩොල්, ලී ආදී දේවල් ගන්නේ නැත. එය වාස්තු විද්‍යා නියමයකි.

(60.) ජ්‍යොතිෂ කටයුත්තකට (විශේෂයන්ම නැකැත් බැලීමකට) ප්‍රතිකාර ගැනීමකට, ශාන්ති කර්ම කටයුත්තකට, නිමිති බැලීමකට යන විට හමුවීමට බලාපොරොත්තු වන පුද්ගලයා හරියටම සිටීදැයි දැනගනම යන්න. ඒ සඳහා පහත දැක්වෙන කාරණා අනුගමනය කිරීම තුලින් සාර්ථක ප්‍රතිඵල ලබාගත හැක. බටහිර වෛද්‍ය ප්‍රතිකාර කිරීම් වැනි දේකට යෑමේදී එම කාරනා සියල්ලම අනුගමනය කිරීමට නොහැකි වීමට පිළිවන. එවැනි අවස්ථාවලදී නිවසේ සිටම තුන් දෙනෙකු නොයෑම, ආපසු හැරී ඒමෙන් වැලකීම, වෙනත් ස්ථාන වලට නොගොස් අදාල ස්ථානයටම යෑම, ආපසු යනවිටත් වෙනත් ස්ථාන වලට නොගොස් නිවසටම යෑම කරනවානම් වඩා හොඳය.

1. නිවසේ සිට බුලත් රැගෙන යෑම.
2. පලුදු නැති බුලත් රැගෙන යෑම.
3. බුලත් කොල 03 කට වඩා රැගෙන යාම.
4. නිවසේ සිටම තුන්දෙනෙකු නොයෑම.
5. ආපසු හැරී ඒමෙන් වැලකීම.
6. වෙනත් ස්ථානවලට නොගොස් අදාල ස්ථානයටම යෑම.
7. මුලින්ම බුලත් දී පසුව කාරණාව කීම.
8. තමන්ගේ වැඩට තමන්ම බුලත් දීම.
9. බැරිම උනොත් අඹු සැමි මව්පියන් බුලත් දීම.
10. ඔතාගන ගිය කොලය අයින්කර බුලත් දීම.
11. අදාල කෙනාගේ දෑතටම බුලත් දීම.
12. බුලත් වල නැටිපැත්ත අදාල කෙනා වෙත හරවා දීම.

සතුට සොයා කෘතියත්. මෙම කෘතියත්, සඳැස් නිසඳැස් කාව්‍ය සංග්‍රහයත් Vidudara.blogspot.com වෙත පිවිස කියවීම සහ නොමිලේ බාගත කිරීම කරගත හැක.